නව නිර්දේශය/புதிய பாடத்திட்டம்/New Syllabus

NEW

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

47 S

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2017 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2017 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2017

සිංහල සාහිත්‍ය රසාස්වාදය
இலக்கிய நயம் சிங்களம்
Appreciation of Sinhala Literary Texts

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

※ I කොටසෙහි 1, 2 ප්‍රශ්නවලටත්, II කොටසෙහි 3 වැනි ප්‍රශ්නයටත්, III කොටසෙහි 4, 5, 6, 7 ප්‍රශ්නවලින් තෝරා ගත් ප්‍රශ්න **දෙකකටත්** උත්තර සපයන්න.

## I කොටස

**1.** (i) සිට (v) තෙක් ඇති කොටස් කියවා, ඒවා ඇසුරින් අසා ඇති (අ), (ආ) ප්‍රශ්නවලට **කෙටි උත්තර** ලියන්න.

(i) "කෙල්ල, තෝ චණ්ඩාල එකක් ද, අවශේෂ හීන ජාතියෙහි එකක් ද?"
- (අ) මෙම ප්‍රකාශය කරන ලද්දේ කවුරුන් විසින් ද?
- (ආ) මෙහි 'කෙල්ල' යනුවෙන් ආමන්ත්‍රණය කෙරෙන්නේ කාට ද?

(ii) "ස්වාමීනී, මුඹ වහන්සේ දෙව් ලොව වැඩි ගමනේ දෙවඟනන් පන් සියයක් මා ලබන නියාවට වූ ඇපයෙක් ඇත්තේ වේ ද,"
- (අ) මෙහි 'මා' යනුවෙන් හැඳින්වෙන්නේ කවරෙක් ද?
- (ආ) මෙම පාඨය උපුටාගත් කතාව ඇතුළත් මුල් කෘතිය කුමක් ද?

(iii) "මල්ලී"යි හිස පිරිමදිමින් ඔහු මා ඇමතුවේ ය.
- (අ) මෙම ප්‍රකාශය කළේ කවරෙක් ද?
- (ආ) මෙම ප්‍රකාශය ඇතුළත් කතාවේ නම කුමක් ද?

(iv)
"නද අසා ඔබගේ පැහැයත් බලා,
මොනරු පිල් විදහා රඟ දෙත් නදින්.
අමුතුයෙන් **පණවත් බව** ලත් සෙයින්,
**තුරු ලියත්** ලිය-ලයි සැනැසී දියෙන්."

- (අ) මෙහි මුල් කවිපද දෙකේ අදහස ලියන්න.
- (ආ) තද කළු අකුරෙන් මුද්‍රිත පදවල අර්ථ වෙන වෙන ම ලියන්න.

(v)
"මිනිහා වෙතින් මිනිහා වෙන් කරන රිසින්
බැඳ ඇති පවුරු පදනම් කිසි කෙනකු විසින්
ඒවා කඩා බිඳගෙන එහි පිරුණු පසින්
පාලම බැඳෙනු ඇත දවසක උතුරු දෙසින්"

- (අ) මෙම කවිය ඇතුළත් පැදි පෙළේ රචකයා කවරෙක් ද?
- (ආ) 'පාලම බැඳෙනු ඇත දවසක උතුරු දෙසින්' යන්නෙන් මතු කෙරෙන අර්ථය කුමක් ද?

(ලකුණු 04 × 5 = 20 යි.)

**2.** පහත දී ඇති පැදි පෙළ කියවා අසා ඇති ප්‍රශ්න උපයෝගී කොට ගෙන **රසාස්වාදයක්** ලියන්න.

උපන්නෙත් මැරෙන්නෙත් තනියම යි ලොවේ
එයින් පිටත්තර වෙන විදියකින් නොවේ
එයින් එහෙම නම් තම යුතුකම හමුවේ
බියෙන් තැති ගැනුම අපහට තරම් නොවේ

නම්බුව කැමති අය ඇති නම් නො වී මුළා
ගම්මුන් සැවොම ගම්මුන්ට ම එකතු වෙලා
ලොම් සිදුරක තරම් වත් අඩ දබර නොලා
පිම්මක් පනිමු ගම්මුන්ගේ ජය ම බලා

[දෙවැනි පිටුව බලන්න

උපන් ගමේ බල උරුමය රැක ගන්ට
සටන් කෙරුම සතුටක් නම් වැසි යන්ට
බියෙන් නොගොස් අහු මුළුවල රිං ගන්ට
ඉතින් යමව් ගම්මුන්ට ම එක් වෙන්ට

වඳින්නේ නැතිව ලොකු නිලධාරින් ට
තමන්ගේ බලය උරුමය රැක ගන් ට
හිතින්වත් කැමති නම් එය කර ගන් ට
ඉතින් අඩ ගසව් තම හිත මිතුරන් ට

ඇතොත් ගමට ආදරයක් සිතින් සිපා
අතත් පයත් ඔලුවත් වෙන වෙන ම කපා
කතත් කමක් නැහැ බියසුලු ගතිය පපා
අයුත්තකට අත් දෙක ඔසවන්ට එපා

අපේ රට අපේ ජාතිය අපේ ගම
අපේ අසල්වැසියා යන සියල් ලම
අපේ අතට අවනත කර ගෙන වහම
අපේ නමට සලකත දිවි දෙමු මෙහෙම

මුල බැස තිබෙන ගම්මුන්ගේ සමඟි සැපා
සොලොවා මරා වළලන්නට යොදා උපා
කුල මල උගුල් අටවන බොරු බණක් පපා
නිලධාරින්ට විස්වාසය දෙන්ට එපා

(i) මෙම පද්‍ය පන්තියේ තේමාව කුමක් ද?
(ii) කවියා යොදාගෙන ඇති ආකෘතිය එම අත්දැකීම රසවත්ව ඉදිරිපත් කිරීම සඳහා උචිත වන්නේ කෙසේ ද?
(iii) කවියා තම අත්දැකීම ප්‍රබලව ඉදිරිපත් කිරීමට යොදාගත් යෙදුම් **දෙකක්** නම් කරන්න.
(iv) කවියා පාඨකයන්ට ලබා දෙන උපදේශ **දෙකක්** මේ පද්‍ය පන්තියෙන් උපුටා දක්වන්න.
(v) කවියා යොදාගත් භාෂාව රස නිෂ්පත්තිය උදෙසා කෙතෙක් දුරට ගැළපේ ද?

(ලකුණු 25 යි.)

## II කොටස

● පහත දැක්වෙන ගද්‍ය - පද්‍ය කොටස් දෙකින් **එක කොටසකට පමණක්** උත්තර සපයන්න.

3. "එකල නුවර වැස්සෝ හා රාජ්‍ය වාසීහු හා පුරදොරට රැස්ව රට නස්නේ ය විනස්නේ යයි මහත් කොට කෝලාහල කළාහු ය. ඒ කෝලාහල ඇසූ රජ්ජුරුවෝ සීමැදුරු කවුළුව හරවා 'මා රාජ්‍ය කරමින් සිටිය දී අන්‍යායක් කරන කෙනෙක් නැත්තාහ. කුමක් නිසා මොරගවුදැ'යි විචාළහ.

එකල ඔවුන් විසින් 'සැබව, දේවයන් වහන්ස, අධර්මකාරී කෙනෙක් නැත. වංශ පරිපාලනය කරන්ට නිසි දරු කෙනෙක් නැත්තාහ. අනික් කෙනෙක් අප රාජ්‍යය ඇරගෙන අධර්මයෙන් රාජ්‍යය නසති. ඒ කාරණයෙන් දැහැමෙන් රාජ්‍යය කරන්ට නිසි පුතණු කෙනෙකුන් පැතුව මැනවැ'යි කීහ. එසඳ රජ්ජුරුවෝ ද දරුවන් ප්‍රාර්ථනා කරන්නා වූ මා විසින් කුමක් කටයුතු දැයි විචාළාහු ය. 'දේවයන් වහන්ස, නුඹ වහන්සේගේ තුන් වැදෑරුම් වූ නාටක ස්ත්‍රීන්ගෙන් පළමු කොට රැකවල් ඇති ව පිටත ඉන්නා වූ සුළු නළු මුළු රැකවල් හැර ස්ත්‍රීන් සිත සේ ඇවිදනාව හැර වදාළ මැනව. ඉදින් ඉන් එක් කෙනෙක් දරු කෙනෙකුන් ලද්දා නම් මැනව. නැත්නම් ඉක්බිති අගමෙහෙසුන් බිසවුන් වහන්සේ හැර අවශේෂ ස්ත්‍රීන් හළ මැනව. ඒකාන්තයෙන් මෙතෙක් දෙනා අතුරෙන් කුසල් ඇති කෙනෙක් දරු කෙනෙකුන් ලබත'යි කීවාහු ය. එකල රජ්ජුරුවෝ ඔවුන්ගේ බසින් එලෙස කරවාත් දරු කෙනෙකුන් නො ලදින් නො සතුටු වූහ."

(i) මෙම පාඨයෙහි සඳහන් වන ආකාරයට නුවර වැස්සෝ කෝලාහල කළෝ කුමන කරුණක් අරබයා ද?(ලකුණු 05 යි.)
(ii) නුවර වැස්සන් විසින් කෝලාහල කරන ලද්දේ කුමන කාරණා පවසමින් ද? (ලකුණු 05 යි.)
(iii) මේ පාඨයෙහි සඳහන් වන ආකාරයට දරුකෙනෙකුන් ලබන්නේ කවර කෙනෙක් ද? (ලකුණු 05 යි.)
(iv) දරුවන් ප්‍රාර්ථනා කරන්නාවූ රජතුමාට නුවර වැසියන් විසින් දෙනු ලැබූ උපදේශය කුමක් දැයි පැහැදිලි කරන්න. (ලකුණු 10 යි.)

(ලකුණු 25 යි.)

[ තුන්වැනි පිටුව බලන්න

**නැතහොත්**

විච්රි විරි විච්රි විරි උදේ සිට ඇද හැලෙන
පොද නො කැඩී තෙත බරිව හිරිකිතෙන් කිලිපොලන
පාර තොට, ගහ කොල ද, වසාගෙන හැම අතින
වහින වැහි වහින වැහි නො පායන මුළු දවස

ගොහොරු මඩ ඇඟිලි කරු අතර විරි විරි ගාන
මඩ කඩිති හැම තැන ම මඩ පාට දිය රැඳුන
අලුත් පස් දැමූ පාර දනිහ තෙක් මඩ එරෙන
බැනියම ද ඇඟට ඇලි උදේ සිට තෙත බරිව

තෙමුන රෙදි ඇඟ ඇලුණ හබුරු කොල මලිපිටි ද
දොර ගොස් හැම තැන ම වක්කලන් ඇලි හැදුන
හැට්ට අත් කඳ කලව තෙත රෙද්ද ඇඟ එතුව
වහින වැහි තද හුළඟ නො පායන මුළු දවස

ඔළුව කෙස් තෙත බරිව පිට දිගේ වැක්කෙරෙන
කාර් රෝදෙන් විරිස් ඇඟ පුරා මඩ ඉහෙන
ආයිමත් හිටි ගමන් තද කරන් එන සැණින
වහින වැහි වහින වැහි නො පායන මුළු දවස

ගෙදර ගොස් ඇඳපු දේ මොහොතකින් ඉවර කොට
තුවායෙන් ඇඟ පත ද පිහ දමා හිස කෙස් ද
අලුත් සරමක් ඇඳන් උණට උණු තේ වතුර
ඇඳෙහි ඉඳ උණුහුමට බොන්නෙ කොයි මොහොතෙදැයි
වැහි පොදෙහි පෙඟුණ සිත හිත හිතා ලත වේ ය

(i) වැස්ස නිසා කථකයාට විඳීමට සිදු වූ පීඩාව පිළිබිඹු කරන නිදසුන් **දෙකක්** ඉදිරිපත් කරන්න. (ලකුණු 05 යි.)

(ii) නිවසට පැමිණි විගසම කථකයා විසින් සිදු කරන්නට සැලසුම් කරන ලද කාර්ය **දෙකක්** මේ පැදි පෙළෙන් උපුටා දක්වන්න. (ලකුණු 05 යි.)

(iii) මෙම පද්‍ය පන්තියේ භාෂාව එහි සාර්ථකත්වය සඳහා බලපා ඇති ආකාරය කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 05 යි.)

(iv) සුලබ අත්දැකීමක් චිත්තරූප දැනවෙන ආකාරයෙන් ඉදිරිපත් කිරීමට කතුවරයා දැක් වූ කුසලතාව කෙබඳු දැයි අගයන්න. (ලකුණු 10 යි.)

(ලකුණු 25 යි.)

## III කොටස

මෙම කොටසේ ප්‍රශ්න **දෙකකට** පමණක් උත්තර සපයන්න.
(එක් උත්තරයකට වචන **150ක් වත්** තිබිය යුතු ය.)

**4.** 'ආගන්තුක සත්කාරය' පද්‍ය පන්තියෙන් සාම්ප්‍රදායික ගැමි ජීවිතයේ සැබෑ ස්වරූපය පිළිබිඹු වන ආකාරය නිදසුන් **තුනක්වත්** දක්වමින් පැහැදිලි කරන්න. (ලකුණු 15 යි.)

**5.** අවස්ථා හා සිද්ධි මැනවින් නිරූපණය කිරීම 'වැලපීම' කෙටිකතාවේ සාර්ථකත්වය කෙරෙහි බලපා ඇති ආකාරය නිදසුන් **තුනක්වත්** ආශ්‍රයෙන් පැහැදිලි කරන්න. (ලකුණු 15 යි.)

**6.** කථා රසය කුළුගැන්වීමට සුදුසු උපමා භාවිතයෙහිලා ධර්මසේන හිමි දැක් වූ කුසලතාව 'නන්ද තෙරුන් වහන්සේගේ වස්තුව' ඇසුරෙන් අදාළ නිදසුන් **තුනක්වත්** දක්වමින් අගයන්න. (ලකුණු 15 යි.)

**7.** 'තුංමං හංදිය' නවකතාවේ සාර්ථකත්වය කෙරෙහි චරිත නිරූපණය බලපා ඇති ආකාරය නිදර්ශන **තුනක්වත්** ආශ්‍රයෙන් විමසන්න. (ලකුණු 15 යි.)

(ලකුණු $15 \times 2 = 30$ යි.)

* * *